**81 S I, II**

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)

කෘෂි හා ආහාර තාක්ෂණය I, II
விவசாயமும் உணவுத் தொழினுட்பவியலும் I, II
Agriculture and Food Technology I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## කෘෂි හා ආහාර තාක්ෂණය I

**උපදෙස්:**

※ **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
※ අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
※ **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
※ එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ජනප්‍රවාදයට අනුව වෙල් (කුඹුරු) ලක්ෂයක් තිබුණු නිසා 'වෙල්ලස්ස' යනුවෙන් හඳුන්වන ප්‍රදේශය පිහිටා ඇත්තේ ශ්‍රී ලංකාවේ,
(1) මධ්‍යම පළාතේ ය. (2) වයඹ පළාතේ ය.
(3) සබරගමු පළාතේ ය. (4) ඌව පළාතේ ය.

**2.** අනුරාධපුරය, පොළොන්නරුව හා ත්‍රිකුණාමලය යන දිස්ත්‍රික්කවලට වාර්ෂිකව වැඩිම වර්ෂාපතනයක් ලැබෙනුයේ,
(1) ඊසාන දිග මෝසම් වර්ෂාව මගිනි. (2) සංවහන වර්ෂාව මගිනි.
(3) නිරිත දිග මෝසම් වර්ෂාව මගිනි. (4) වාසුළි වර්ෂාව මගිනි.

**3.** පස පිළිබඳ ප්‍රකාශ තුනක් පහත දැක්වේ.
A - පාංශු ද්‍රාවණයේ අඩංගු $H^+$ සාන්ද්‍රණය $OH^-$ සාන්ද්‍රණයට වඩා වැඩි නම් එම පස ආම්ලික වේ.
B - පසක ආම්ලිකතාව උදාසීන කිරීමට කැල්සියම් කාබනේට් යෙදිය හැකි ය.
C - ශ්‍රී ලංකාවේ තෙත් කලාපයේ බහුලවම ඇත්තේ රතු දුඹුරු පසයි.
මෙවායින් නිවැරදි ප්‍රකාශ වන්නේ,
(1) A සහ B පමණි. (2) A සහ C පමණි. (3) B සහ C පමණි. (4) A, B හා C සියල්ලම ය.

**4.** සිසුන් කිහිපදෙනෙකු විසින් පස් වර්ග පිළිබඳව කරන ලද පරීක්ෂණයක ඇටවුම් පහත රූපසටහන්වල දැක්වේ. මෙහිදී සෑම පුනීලයකටම සමාන ප්‍රමාණවලින් වියළන ලද විවිධ පස් වර්ග හතරක් යොදා, ඒවාට සමාන ජල පරිමා එකතු කරන ලදී. එම පස් සාම්පලවලින් වැඩිම වැලි ප්‍රතිශතයක් අඩංගු පස් සාම්පලය ඇත්තේ කුමන ඇටවුමෙහි ද?



(1) (2) (3) (4)

[දෙවැනි පිටුව බලන්න

5. ශ්‍රී ලංකාව බෙදා ඇති කෘෂි පාරිසරික කලාප ගණන,
   (1) 7 කි. (2) 14 කි. (3) 27 කි. (4) 46 කි.

6. මෙම රූපයෙහි දැක්වෙන උපකරණය වන්නේ,
   (1) අන්වීක්ෂයකි.
   (2) සූර්ය දීප්තමානයකි.
   (3) අනිලමානයකි.
   (4) ස්වයංක්‍රීය වර්ෂාමානයකි.



7. ගොවියෙක් තම වී වගාවෙන් ලැබෙන පිදුරු ගවයන්ට ආහාර වශයෙන් ලබා දෙයි. ඔහු එම ගවයින්ගේ මල මූත්‍ර යොදාගනිමින් ජීව වායුව නිපදවන අතර ජීව වායු ඒකකයේ අතුරුඵල බෝග වගාව සඳහා පොහොරක් ලෙස භාවිත කරයි. මෙම ගොවිතැන් ක්‍රමය හඳුන්වනු ලබන්නේ,
   (1) ශෂ්‍යමාරු ගොවිතැන ලෙස ය. (2) සංරක්ෂණ ගොවිතැන ලෙස ය.
   (3) සත්ත්ව බෝග මාරුව ලෙස ය. (4) සමෝධානිත ගොවිතැන ලෙස ය.

8. බෝග වගාවට ආලෝකයේ බලපෑම සම්බන්ධ ප්‍රකාශ තුනක් පහත දැක්වේ.
   A - දවසේ ආලෝකය පවතින කාලසීමාව සමහර ශාකවල පුෂ්පීකරණයට බලපායි.
   B - රතු ආලෝකය බෝග ශාකවල අතු බෙදීමට හා බීජ ප්‍රරෝහණය කෙරෙහි බලපායි.
   C - ආලෝක තීව්‍රතාව වැඩි වන විට ශාක පත්‍රවල පූටිකා වැසී යාම හේතුවෙන් ප්‍රභාසංස්ලේෂණය වැඩි වේ.
   ඉහත ප්‍රකාශ අතුරෙන් නිවැරදි වන්නේ,
   (1) A හා B පමණි. (2) A හා C පමණි. (3) B හා C පමණි. (4) A, B හා C සියල්ලම ය.

9. නිර්පාංශු වගාවේ දී 'ඇල්බට් ද්‍රාවණය' භාවිත කරනුයේ,
   (1) පසේ ආම්ලිකතාව අඩු කිරීම සඳහා ය.
   (2) බෝගවල පළිබෝධ පාලනය සිදුකිරීම සඳහා ය.
   (3) බෝගවලට අවශ්‍ය පෝෂණය ලබා දීම සඳහා ය.
   (4) දඬු කැබලිවල මුල් ඇදීම උත්තේජනය කිරීම සඳහා ය.

10. යම් බෝගයක ජීවන චක්‍රය අවසන් වීමට පෙර එය පුෂ්පීකරණ අවස්ථාවේ දී තවත් බෝගයක් එම බෝග අතර සංස්ථාපනය කරමින් එකම භූමියක බෝග වර්ග දෙකක් හෝ කිහිපයක් වගා කිරීම හඳුන්වන්නේ,
   (1) මිශ්‍ර බෝග වගාව ලෙස ය. (2) බහු බෝග වගාව ලෙස ය.
   (3) කඩින් කඩ වගාව ලෙස ය. (4) අතුරු බෝග වගාව ලෙස ය.

11. පාංශු ජලය හා සම්බන්ධ ප්‍රකාශ තුනක් පහත දැක්වේ.
   A - පස ජලයෙන් සංතෘප්ත වූ විට එම පස ක්ෂේත්‍ර ධාරිතාවට පත් වේ.
   B - කේශාකර්ෂණ ජලය ශාක වර්ධනයට උපකාර වේ.
   C - උග්‍ර නියං තත්ත්වයක දී වුව ද පසේ පවතින ජලාකර්ෂක ජලය ඉවත් නොවේ.
   ඉහත ප්‍රකාශ අතුරෙන් නිවැරදි වන්නේ,
   (1) A පමණි. (2) A හා B පමණි. (3) A හා C පමණි. (4) B හා C පමණි.

12. ශිෂ්‍යයෙකු විසින් තක්කාලි, පැපොල් හා වැල් දොඩම් බීජ, ඵලවලින් වෙන් කළ විගසම තවාන් දමන ලදී. නමුත් ඒවා බොහෝ කාලයක් යනතුරු ප්‍රරෝහණය නොවී ය. මෙයට හේතුව විය හැක්කේ එම බීජවල
   (1) කලල පරිණත නොවී පැවතීම ය. (2) බීජාවරණ වාතය හා ජලයට අපාරගම්‍ය වීම ය.
   (3) කලල අක්‍රීයව පැවතීම ය. (4) බීජාවරණවල වර්ධක නිශේධක ද්‍රව්‍ය පැවතීම ය.

13. සෝයා බෝංචි බීජ සිටුවීමට පෙර රයිසෝබියම් බැක්ටීරියා අඩංගු මාධ්‍යයක් සමඟ මිශ්‍ර කරන ලදී. මෙසේ සිදු කරනු ලබන්නේ,
   (1) රෝග වැළඳීම වැළැක්වීමට ය.
   (2) බීජ සුප්තතාව ඉවත් කිරීමට ය.
   (3) නයිට්‍රජන් තිර කිරීමේ හැකියාව වැඩිදියුණු කිරීමට ය.
   (4) කෘමි හානි වැළැක්වීමට ය.

14. පහත සඳහන් බෝග අතුරෙන් පොඒසියේ (Poaceae) කුලයට අයත් බෝග අඩංගු කාණ්ඩය වනුයේ,
   (1) වී, බඩ ඉරිඟු සහ උඳු ය. (2) ඉදල් ඉරිඟු, කුරක්කන් සහ මුං ය.
   (3) ඔමනෙරි, තල සහ කව්පි ය. (4) ඉදල් ඉරිඟු, කුරක්කන් සහ වී ය.

15. බෝග වගාවේ දී වැඩිම ජල ප්‍රමාණයක් අවශ්‍ය වන ජල සම්පාදන ක්‍රමය වන්නේ,
(1) නීරු ජල සම්පාදනය යි.
(2) බේසම් ජල සම්පාදනය යි.
(3) ඇලි ජල සම්පාදනය යි.
(4) පිටාර ජල සම්පාදනය යි.

16. විසිරි ජල සම්පාදන ක්‍රමයේ වාසි පිළිබඳ ප්‍රකාශ තුනක් පහත දැක්වේ.
A - බෑවුම් භූමිවලට වුව ද සුදුසු ය.
B - උසින් වැඩි බෝග සඳහා සුදුසු ය.
C - ජලය සමග පොහොර යෙදිය හැකි ය.
මෙවායින් නිවැරදි ප්‍රකාශය / ප්‍රකාශ වන්නේ
(1) A පමණි. (2) A හා B පමණි. (3) A හා C පමණි. (4) B හා C පමණි.

17. නවාන් පාත්තියක සම්මත පළල වන්නේ,
(1) 50 cm ය. (2) 100 cm ය. (3) 150 cm ය. (4) 200 cm ය.

18. යන්ත්‍ර බලයෙන් ක්‍රියාකරන ද්විතීයික බිම සැකසීමේ උපකරණයක් වන්නේ,
(1) රොටවේටරය යි.
(2) ජපන් පරිවර්තන නගුල යි.
(3) හැඩ ලෑලි නගුල යි.
(4) තැටි නගුල යි.

19. බතල හා රටකජු යන බෝග සිටුවීම සඳහා වඩාත් සුදුසු පාත්ති වර්ගය කුමක් ද?
(1) උස් පාත්ති
(2) වැටි හා කාණු
(3) ගිල් වූ පාත්ති
(4) තනි වගා වළවල්

20. පහත සඳහන් පැළෑටි අතුරෙන් ආගන්තුක ආක්‍රමණශීලි වල් පැළෑටි වන්නේ,
(1) මානා හා විඩේලියා ය.
(2) මොණරකුඩුම්බිය හා ජපන් ජබර ය.
(3) ඇටවරා හා කලාඳුරු ය.
(4) පාතිනියම හා යෝධ නිදිකුම්බා ය.

21. කුකර්බිටේසියේ කුලයේ බෝග ශාක පත්‍රවලට හානි කරන කෘමි පළිබෝධකයා වන්නේ,
(1) බත් කුරා ය. (2) අවුලකපෝරා ය. (3) පුරුක් පණුවා ය. (4) ලේඩිබර්ඩ් කුරුමිණියා ය.

22. බණ්ඩක්කා සහ පැපොල් යන බෝගවලට වැළඳෙන පත්‍ර විචිත්‍ර රෝගයේ රෝග කාරකය වන්නේ,
(1) බැක්ටීරියාවකි. (2) දිලීරයකි. (3) වෛරසයකි. (4) වට පණුවෙකි.

23. වී වගාවක තැනින් තැන ශාක කහ පැහැ ගැන්වී, වියළී පිළිස්සීගිය වෘත්තාකාර ප්‍රදේශ දක්නට ලැබුණි. මෙයට හේතුවන පළිබෝධය වන්නේ,
(1) ගොයම් මකුණා ය.
(2) කුඩිත්තා ය.
(3) දුඹුරු පැළ කීඩෑවා ය.
(4) පැළ මැක්කා ය.

24. පහත සඳහන් ගව වර්ග අතුරෙන් ඉන්දීය කිරි ගව වර්ගය කුමක් ද?
(1) ජර්සි (2) අයර්ෂයර් (3) සින්දි (4) කිලාරි

25. යුරෝපීය ගව වර්ගවල දක්නට ලැබෙන ලක්ෂණයක් වන්නේ මින් කුමක් ද?
(1) විශාල තැල්ල
(2) උස මොල්ලිය
(3) දිගු ලෝම
(4) සෙලවිය හැකි හම

26. කිරි ගව පාලනයේ දී පෙරහන් කෝප්ප පරීක්ෂාව සිදු කරන්නේ කුමන රෝගයක් හඳුනා ගැනීම සඳහා ද?
(1) කුර හා මුඛ රෝගය
(2) බුරුළු ප්‍රදාහය
(3) රක්තාශ්‍රව රෝගය
(4) කිරි උණ

27. සත්ත්ව ආහාර සලාක පිළියෙල කිරීමේ දී කාබෝහයිඩ්‍රේට පෝෂකය ලබාදීම සඳහා භාවිත කළ හැකි ආහාර සංඝටකයක් වන්නේ,
(1) බඩ ඉරිඟු ය. (2) පොල් පුන්නක්කු ය. (3) සිප්පිකටු කුඩු ය. (4) සෝයා අන්නය ය.

28. වැපිරීමට පෙර කුරක්කන් බීජවලට සිහින් වැලි මිශ්‍ර කිරීමේ අරමුණ වන්නේ,
(1) බීජවල ප්‍රරෝහණය කඩිනම් කිරීමට ය.
(2) බීජවල සුප්තතාව ඉවත් කිරීමට ය.
(3) ක්ෂේත්‍රයේ දී පළිබෝධ හානි අවම කිරීමට ය.
(4) ක්ෂේත්‍රයේ ඒකාකාරව බීජ වැපිරීමට ය.

29. අවශ්‍ය අවස්ථාවක දී අවශ්‍ය ප්‍රමාණවලින් නියමිත ගුණාත්මයෙන් යුක්තව අවශ්‍ය ආහාර වර්ගයක් ලබාගැනීමට පාරිභෝගිකයෙකු සතුව ඇති හැකියාව හඳුන්වනු ලබන්නේ,
(1) ආහාර සමතුලිතතාව වශයෙනි. (2) ආහාර පරිරක්ෂණය වශයෙනි.
(3) ආහාර සංරක්ෂණය වශයෙනි. (4) ආහාර සුරක්ෂිතතාව වශයෙනි.

30. ශාක දඬු කැබලි සූර්ය ප්‍රචාරකයක් තුළ සිටුවීමෙන් වඩාත් සාර්ථකව මුල් අද්දවා ගත හැකි ය. එසේ වන්නේ,
(1) එය තුළ උෂ්ණත්වය හා ආර්ද්‍රතාව වැඩි නිසා ය.
(2) එය තුළට වර්ෂා ජලය නොලැබෙන නිසා ය.
(3) එය තුළට පළිබෝධවලට ඇතුළුවිය නොහැකි නිසා ය.
(4) එය තුළ රැස්වන ජල වාෂ්ප මගින් වාතය සිසිල්වන නිසා ය.

31. වෙළෙඳපොළෙන් මිලදී ගන්නා ලද මාළු ටින් එකක පතුලේ හා මුදුනේ, තනඩුව ඉදිමී පිටතට නෙරා තිබුණි. මෙයට හේතු විය හැක්කේ,
(1) එය කල් ඉකුත් වී තිබීම ය. (2) එය තුළ ක්ෂුද්‍රජීවීන් වර්ධනය වී තිබීම ය.
(3) එය සාන්ද්‍රීකරණයට ලක් කර තිබීම ය. (4) ටින් එක තුනී තහඩුවලින් සාදා තිබීම ය.

32. පැසවීම මගින් ලබාගන්නා කිරි නිෂ්පාදනයක් වන්නේ,
(1) උකු කිරි ය. (2) පැස්ටරීකෘත කිරි ය.
(3) යෝගට් ය. (4) කිරි පිටි ය.

33. බෝග වර්ධනය සඳහා අත්‍යවශ්‍ය ක්ෂුද්‍ර පෝෂක වන්නේ,
(1) නයිට්‍රජන්, පොස්පරස් හා පොටෑසියම් ය. (2) කැල්සියම්, මැග්නීසියම් හා යකඩ ය.
(3) කොපර්, සින්ක් හා කාබන් ය. (4) සින්ක්, මැංගනීස් හා මොලිබ්ඩිනම් ය.

34. මාළු පරිරක්ෂණ ක්‍රමයක් ලෙස කරවල නිෂ්පාදනයට වැදගත් තැනක් ලැබේ. මෙහි දී යොදාගන්නා පරිරක්ෂණ ක්‍රමය වන්නේ,
(1) වියළීම ය. (2) විසිරි වියළීම ය.
(3) ජීවානුහරණය ය. (4) බලාත්වීකරණය ය.

35. බෝගයක පත්‍ර දාරය කහ පාට වී, පිළිස්සුන ස්වභාවයක් ගන්නා බව නිරීක්ෂණය විය. මෙයට හේතුව විය හැක්කේ,
(1) නයිට්‍රජන් ඌනතාවයි. (2) පොස්පරස් ඌනතාවයි.
(3) පොටෑසියම් ඌනතාවයි. (4) මැග්නීසියම් ඌනතාවයි.

36. සමෙ සහ ඇස්වල නිරෝගීභාවයට හේතුවන විටමින් වර්ගය මින් කුමක් ද?
(1) විටමින් A (2) විටමින් B (3) විටමින් C (4) විටමින් D

37. වී වගාවේ මතුපිට පොහොර ලෙස යොදා ගැනෙන බණ්ඩි පොහොර මිශ්‍රණයෙහි (TDM) අඩංගු වන ප්‍රධාන පෝෂක වන්නේ,
(1) නයිට්‍රජන් හා පොටෑසියම් ය. (2) පොස්පරස් හා පොටෑසියම් ය.
(3) නයිට්‍රජන් හා පොස්පරස් ය. (4) නයිට්‍රජන්, පොස්පරස් හා පොටෑසියම් ය.

38. ගොවිපොළ සතුන් පිළිබඳ පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) ගව දෙනෙකගේ ගැබ් කාලය දින 305ක් වේ.
(2) බිත්තර සඳහා කිකිළියන් ඇති කිරීමේ දී දිනක් වයසේ සිට සති 8 වනතුරු කාල සීමාව පැටවු අවධිය ලෙස හඳුන්වයි.
(3) ගව පැටවකුට ලබා දෙන කිරි ප්‍රමාණය උපත් බරෙන් 20% ක් වේ.
(4) සියුම් ක්‍රමයට ගවයන් ඇති කිරීමේ දී ලැබෙන කිරි අස්වැන්නට වඩා වැඩි අස්වැන්නක් නිදැලි ක්‍රමයට ඇති කිරීමෙන් ලබා ගත හැකි ය.

39. ආහාර ඇතුළු භාණ්ඩ හා සේවාවල ගුණාත්මය පවත්වාගෙනයාම සඳහා ජාත්‍යන්තරව පිළිගත් ප්‍රමිති සහතිකය වන්නේ,
(1) SLS ය. (2) IPNS ය. (3) ISO ය. (4) GAP ය.

40. ගැබ්ගත් ගව දෙනක්ගේ 'වියළි කාලය' ආරම්භ කළ යුත්තේ ප්‍රසූතියට කොපමණ කාලයකට පෙර සිට ද?
(1) මාසයක් (2) මාස දෙකක් (3) මාස තුනක් (4) මාස හතරක්

* *

**81 | S | I, II**

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)

කෘෂි හා ආහාර තාක්ෂණය I, II
விவசாயமும் உணவுத் தொழினுட்பவியலும் I, II
Agriculture and Food Technology I, II

## කෘෂි හා ආහාර තාක්ෂණය II

* **පළමුවැනි** ප්‍රශ්නය හා තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළුව ප්‍රශ්න **පහකට පමණක්** පිළිතුරු සපයන්න.

1. තෙත් කලාපයේ වෙසෙන බෝග වගාව හා සත්ත්ව පාලනයේ නියැලෙන ගොවි මහතෙක් තම ගොවිපොළෙහි බෝග අවශේෂ, අතුරුළු හා සත්ත්ව මල ද්‍රව්‍ය යොදාගෙන කාබනික ගොවිතැනට යොමු වී සිටියි.

   (i) ශ්‍රී ලංකාවේ ප්‍රධාන වගා කන්න **දෙක** නම් කරන්න.

   (ii) (a) නිරිත දිග මෝසම් වර්ෂාව පදනම් කරගෙන වගා කරන කන්නය කුමක් ද?
   (b) නිරිත දිග මෝසම් වර්ෂාව ලැබෙන කාලසීමාව ලියා දක්වන්න.

   (iii) (a) බෝග වගාවේ දී තවාන් පාත්ති ජීවානුහරණය සඳහා යොදා ගන්නා ක්‍රම **දෙකක්** සඳහන් කරන්න.
   (b) තවාන් පැළවලට බහුලව වැළඳෙන රෝගයක් නම් කරන්න.

   (iv) (a) තවාන් මිශ්‍රණය සකසා ගැනීම සඳහා භාවිත කරන ද්‍රව්‍ය **දෙක** මොනවා ද?
   (b) එම ද්‍රව්‍ය මිශ්‍රකර ගත යුතු අනුපාතය සඳහන් කරන්න.

   (v) (a) භූගත කඳන් සහිත වල් පැළෑටි වර්ග **දෙකක්** නම් කරන්න.
   (b) බෝග වගාවේ දී වල් පැළෑටි පාලනය සඳහා යොදාගත හැකි ශෂ්‍ය විද්‍යාත්මක ක්‍රම **දෙකක්** ලියන්න.

   (vi) (a) පසේ අඩංගු වන කලිල වර්ග **දෙකක්** ලියන්න.
   (b) බෝග වගා භූමියක පස සංරක්ෂණය කර ගැනීම සඳහා යොදාගත හැකි යාන්ත්‍රික ක්‍රම **දෙකක්** සඳහන් කරන්න.

   (vii) බෝග වගාව සඳහා කාබනික පොහොර යෙදීමේ වාසි **හතරක්** සඳහන් කරන්න.

   (viii) රසායනික පළිබෝධනාශක වෙනුවට යොදා ගත හැකි පරිසර හිතකාමී පළිබෝධනාශක **හතරක්** නම් කරන්න.

   (ix) ආහාර ඇසුරුමක ඇති ලේබලයක අන්තර්ගත විය යුතු කරුණු **හතරක්** සඳහන් කරන්න.

   (x) කුකුළන්ට වැළඳෙන කොක්සිඩියෝසිස් රෝගයෙහි රෝග කාරකය නම් කරන්න.

2. කෘෂිකර්මාන්තයේ දී බෝග වගා කෙරෙන ප්‍රධාන උපස්ථරය හෙවත් වගා මාධ්‍යය වන්නේ පසයි.

   (i) (a) පාංශු සංඝටක **හතරක්** නම් කරන්න.
   (b) පාංශු ඛනිජ ද්‍රව්‍ය ඒවායේ විෂ්කම්භය ද සමඟ වර්ග කර දක්වන්න.

   (ii) පාංශු වයනයේ කෘෂිකාර්මික වැදගත්කම් **හතරක්** සඳහන් කරන්න.

   (iii) (a) පාංශු ඛාදනය යනු කුමක් ද?
   (b) පාංශු ඛාදන කාරක **දෙකක්** නම් කරන්න.
   (c) පාංශු ඛාදනය නිසා සිදුවන අයහපත් ප්‍රතිඵල **තුනක්** ලියන්න.

3. ජලය සීමිත සම්පතක්වන බැවින් එය මතු පරපුර වෙනුවෙන් මනාව කළමනාකරණය කළ යුතු වේ.
   (i) බෝග වගාවේ දී ජල සම්පාදනය යනුවෙන් හඳුන්වන්නේ කුමක් ද?
   (ii) පෘෂ්ඨීය ජල සම්පාදන ක්‍රම **තුනක්** සඳහන් කර, ඒවා අතුරෙන් බහුවාර්ෂික පලතුරු බෝග සඳහා සුදුසු ජලසම්පාදන ක්‍රමයක් නම් කර එය රූපසටහනක් ඇසුරෙන් පෙන්වන්න.
   (iii) වගා භූමියක දුර්වල ජලවහනය නිසා සිදුවන අයහපත් බලපෑම් **තුනක්** සඳහන් කරන්න.

4. පළිබෝධ හානිය බෝග වගාවේ ඵලදායිතාව අඩුවීමට බලපාන ප්‍රධාන සාධකයකි.
   (i) (a) ඉල් මැස්සා හානි කරන බෝග වර්ග **හතරක්** ලියන්න.
   (b) ඉල් මැස්සාගෙන් බෝගවලට සිදුවන හානිය සඳහන් කරන්න.
   (ii) (a) වල් පැළෑටි නිසා බෝගවලට සිදුවන හානි **හතරක්** ලියන්න.
   (b) වගා ක්ෂේත්‍රයක වල් පැළෑටි ඇතිවීම වළක්වන ක්‍රම **හතරක්** සඳහන් කරන්න.
   (iii) සොලනේසියේ කුලයේ බෝගවලට වැළඳෙන හිටුමැරීමේ රෝගයේ,
   (a) රෝග කාරකය
   (b) රෝග ලක්ෂණ හා
   (c) රෝගය පාලනය කිරීමේ ක්‍රම **දෙකක්** දක්වන්න.

5. වර්ගයා බෝ කිරීමට ශාක සතු හැකියාව උපයෝගී කරගනිමින් වගා කටයුතුවලට අවශ්‍ය රෝපණ ද්‍රව්‍ය නිපදවා ගත හැකි ය.
   (i) (a) වර්ධක ප්‍රචාරණය යනු කුමක් ද?
   (b) වර්ධක ප්‍රචාරණයේ වාසි **හතරක්** ලියන්න.
   (ii) වැඩි දියුණු කරන ලද නව වී ප්‍රභේදයක දක්නට ලැබෙන යහපත් ලක්ෂණ **හතරක්** සඳහන් කරන්න.
   (iii) පොළොව මට්ටමට නැමිය හැකි සමන්පිච්ච අත්තක සරල භූමි අතු බැඳීම සිදුකරන ආකාරය නම් කළ රූපසටහනක් ආධාරයෙන් විස්තර කරන්න.

6. ආහාර නරක්වීම නිසා ඒවා අපතේ යන බැවින් අතීතයේ සිට මිනිසා ආහාර පරිරක්ෂණ ක්‍රම අනුගමනය කිරීමට පුරුදු වී ඇත.
   (i) (a) ආහාර නරක්වීම යනුවෙන් හඳුන්වන්නේ කුමක් ද?
   (b) ආහාර නරක්වීම කෙරෙහි බලපාන සාධක **තුනක්** සඳහන් කරන්න.
   (ii) ආහාර පරිරක්ෂණයේ වැදගත්කම් **තුනක්** සඳහන් කරන්න.
   (iii) ආහාර පරිරක්ෂණ ක්‍රම **තුනක්** සඳහන් කර එම එක් එක් ක්‍රමය සඳහා උදාහරණයක් බැගින් ලියන්න.

7. උසස් නිෂ්පාදන හැකියා සහිත ගොවිපොළ සත්ත්ව වර්ග ඇතිකිරීමට සුදුසු විවිධ දේශගුණික කලාප පවතින බැවින් ශ්‍රී ලංකාවේ සත්ත්ව පාලනය දියුණු කිරීමට විභවයක් පවතී.
   (i) සත්ත්ව නිෂ්පාදන හා සෞඛ්‍ය දෙපාර්තමේන්තුව මගින් හඳුනාගෙන ඇති ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන ප්‍රධාන ගව පාලන කලාප **හතරක්** නම් කරන්න.
   (ii) (a) ආහාරවල අඩංගු තන්තු ප්‍රමාණය මත සත්ත්ව ආහාර වර්ග කර ඒවාට උදාහරණ **දෙක** බැගින් දෙන්න.
   (b) ඉපදුණු විගස ගව පැටවකුට සිදු කළ යුතු සත්කාර **දෙකක්** ලියන්න.
   (iii) (a) ඝන ආස්තරණ ක්‍රමයට කුකුළන් ඇති කිරීමේ වාසි **හතරක්** සඳහන් කරන්න.
   (b) ඝන ආස්තරණ ක්‍රමයේ දී අතුරුණුව ලෙස යොදා ගැනීමට සුදුසු ද්‍රව්‍ය **දෙකක්** ලියන්න.

***